මුද්දර නිවේදන අංක
முத்திரைச் செய்தித்தாள் இல.
Stamp Bulletin No. } 631

සමරු නිකුත් කිරීම
ஞாபகார்த்த வெளியீடு
**Commemorative Issue**




# අයි. එම්. ආර්. ඒ. ඊරියගොල්ල
# ஐ. எம். ஆர். ஏ. ஈரியகொல்ல
# I.M.R.A. Iriyagolle

**2007.03.20**

**Philatelic Bureau**
Department of Posts,
Postal Headquarters, D. R. Wijewardena Mawatha,
Colombo 01000, SRI LANKA.

මුද්දර කාර්යාංශය,
තැපැල් දෙපාර්තමේන්තුව,
තැපැල් මූලස්ථානය.
ඩී. ආර්. විජේවර්ධන මාවත.
කොළඹ 01000.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
அஞ்சல் தலைமையகம்,
டீ. ஆர். வி.ஜேவர்தன மாவத்யத,
கொழும்பு 01000.

තැපැල් දෙපාර්තමේන්තුව,
තැපැල් මූලස්ථානය,
ඩී. ආර්. විජේවර්ධන මාවත,
කොළඹ 01000.

අසමසම මානවහිතවාදී දේශපාලනඥයෙකු, කෘතහස්ත ලේඛකයෙකු, අද්විතීය කථිකයෙකු මෙන්ම ආදර්ශවත් දාර්ශනියෙකු වූ ද, අයි. එම්. ආර්. ඒ. ඊරියගොල්ල ශ්‍රීමතාණන් අභාවප්‍රාප්ත වී තිස්හතර වසරක් පිරීම නිමිත්තෙන් හා එතුමන්ගේ සියවන ජන්ම දිනය සැමරීම නිමිත්තෙන් රු. 5.00 ක වටිනාකමින් යුත් නව තැපැල් මුද්දරයක් තැපැල් දෙපාර්තමේන්තුවේ, මුද්දර කාර්යාංශය විසින් 2007 මාර්තු මස 20 වැනි දින නිකුත් කෙරේ.

කුරුණෑගල දිස්ත්‍රික්කයේ කටුගම්පල හත්පත්තුවේ මැදපත්තු බස්නාහිර කෝරළයේ ඊරියගොල්ල ග්‍රාමයේ ඉපැරණි වංශවත් ප්‍රභූ පවුලක උපත ලත් ඉම්යා මුදියන්සේලාගේ රණයල් අභයවංශ ඊරියගොල්ල අද අයි. එම්. ආර්. ඒ. ඊරියගොල්ල මහ විද්‍යාලය නමින් ප්‍රකට (එදා කංකානියාමුල්ල විද්‍යාලය) රජයේ පාසලෙන් මූලික අධ්‍යාපනය ලබා පසුව කොළඹ ආනන්ද සහ නාලන්ද යන විද්‍යාලවලින් ද්විතීයික අධ්‍යාපනය ලැබී ය. පෙරදිග භාෂා උගැන්ම සඳහා කොළඹ මාලිගාකන්ද විද්‍යෝදය පිරිවෙන තෝරාගත් මෙතුමා කලක් වෛද්‍ය විද්‍යාලයේ ද ශිෂ්‍යයෙකු වශයෙන් විද්‍යා අධ්‍යාපනය ද ලැබී ය. මතභේදයක් නිසා වෛද්‍ය විද්‍යාලයෙන් අස්වූ තරුණ ඊරියගොල්ල උප පොලිස් පරීක්ෂකයෙකු ලෙස පොලීසියට බැඳී ටික කලක් සේවය කළේය. ඉන්පසු ප්‍රවෘත්ති පත්‍ර කලාව කෙරෙහි යොමු වූ මෙතුමා ලක්වැසියා, සිළුමිණ, සිංහල බෞද්ධයා යන පුවත්පත්වල කතෘ මණ්ඩලයේ සේවය කළේ ය. 1934 දී ඉංග්‍රීසි භාෂාවෙන් පවත්වන ලද තරගකාරී විභාගයකින් මුල්තැන ලබාගත් මෙතුමා රාජ්‍ය භාෂා දෙපාර්තමේන්තුවේ රැකියාවකට තෝරාගනු ලැබූ අතර එහි ප්‍රධාන පරිවර්තක තනතුර ද දැරීය. 2 වන ලෝක යුද්ධ සමයේ දී යුධ පුවත් බලධරයා ලෙස කටයුතු කළ මෙතුමා සෝල්බරි කොමිෂන් වාර්තාව සිංහලයට පරිවර්තනය කිරීමේ වැදගත් රාජකාරිය ද ඉටු කළේ ය.

මොහු ලියන ලද "අනංගයාගේ දූත්‍ය" "වහලාගේ සිහිනය" (අනුවර්තන) යන පද්‍ය කාව්‍යයන් මෙන්ම "කතා පහ", "දේව වරය" යන කෙටිකතා පොත්ද "සුදර්ශනය", තම බිරිඳ සමග ලියූ "පූර්ණ විප්ලවය" යන නිර්මාණාත්මක ගද්‍යයන් ද, "දේවතාපය", "මනුතාපය" යන අනුවර්තන ද පාසැල් දරුවන් සඳහා ප්‍රබන්ධ කරන ලද "ලෝකෙන්

උතුම් රට ලංකාවයි" හා ප්‍රගති ගීතය වන "සැම දන මත දිනූ සුජාත ධරණී" යන ගීතයන් සිංහල සාහිත්‍යය පෝෂණය කිරීමෙහිලා යෝධ කර්තව්‍යයක් ඉටු කළේය.

1947 පැවති පාර්ලිමේන්තු මැතිවරණයේ දී ස්වාධීන අපේක්ෂකයෙකු ලෙස තරඟකළ මෙතුමා 1956 ජයක් ලබාගෙන දණ්ඩගමු ආසනය දිනාගත්තේය. මෙතුමා, 1956 ජයගත් මහජන එක්සත් පෙරමුණේ නිර්මාතෘවරයෙක් ද විය. එම පක්ෂය බිහිකිරීම සඳහා අත්සන් කළ සතර දෙනාගෙන් කෙනෙකු වූයේ මෙතුමා ය. 1960 දී ශ්‍රීමත් ඩඩ්ලි සේනානායක මැතිඳුන්ගේ ආරාධනයෙන් නව එක්සත් ජාතික පක්ෂය බිහිකිරීම සඳහා ජාතික සංවිධායකවරයෙකු වශයෙන් එතුමා කළ අමිල සේවය 1965 එ. ජා. ප. රජයක් බිහිවීමට බෙහෙවින් ඉවහල් විය.

1965 - 70 දක්වා ඊරියගොල්ල මැතිතුමා අධ්‍යාපන හා සංස්කෘතික අමාත්‍යවරයා ලෙස කටයුතු කළ කාලය තුළ අධ්‍යාපන දෙපාර්තමේන්තුවේ පරිපාලනය මුල්වරට විමධ්‍යගත කළ මෙතුමා යල්පිනූ අධිරාජ්‍යවාදී අධ්‍යාපන පිළිවෙත් නවීන ලෝකයට ගැලපෙන සේ වෙනස් කළේය. මෙතෙක් එකම විශ්ව විද්‍යාලයක් ලෙස තිබූ ශ්‍රී ලංකා විශ්වවිද්‍යාලය පේරාදෙණි හා කොළඹ වශයෙන් දෙකක් විය යුතු බව යෝජනා කළ එතුමා විශ්වවිද්‍යාලවලට ඇතුල්වීමට සුදුසුකම් ලැබූවත් ඒ සඳහා වරම් නොලත් සිසුන්ට තවදුරටත් අධ්‍යාපනයේ නියැලීම සඳහා 1966 දී කණිෂ්ඨ විශ්ව විද්‍යාල ද ඇති කළේය. මුළු දිවයිනම ආවරණය වන පරිදි දෙහිවල, කෑගල්ල, කුලියාපිටිය, පොල්ගොල්ල, ගාල්ල සහ පළාලි යන ස්ථානවල පිහිටි කනිෂ්ඨ විශ්වවිද්‍යාලවලින් ඩිප්ලෝමා සහතික ලබා විවිධ වෘත්තීන්හි නියැලීමට සිසුන්ට මින් මහඟු අවස්ථාවක් ලැබුණි. මෙතෙක් සැලකිය යුතු තැනක් නොලැබුණු කාර්මික/තාක්ෂණික වෘත්තීය අධ්‍යාපනය වඩාත් ක්‍රමවත් කිරීම සඳහා ඊරියගොල්ල මහතා, අම්පාර හාඩි කාර්මික විද්‍යාලයත්, රත්මලාන මූලික කාර්මික විද්‍යාලයත් අධ්‍යාපන අමාත්‍යාංශයට පවරා උසස් කළේය. කටුබැද්ද කාර්මික විද්‍යායතන භූමියේ ලංකා උසස් කාර්මික විද්‍යායතනය යන නමින් නව උසස් කාර්මික විද්‍යායතනය පිහිටුවීමේ ගෞරවය ද හිමිවන්නේ මෙතුමාට ය.

සෞන්දර්යය අධ්‍යාපනය අනිවාර්ය පාසල් විෂයයක් කළ මෙතුමා සෞන්දර්යය අධ්‍යාපන ආයතන ද උසස් කොට සංවර්ධනය කළේය. පාසල්වල පෙර අපර දෙදිග තූර්යවාදක කණ්ඩායම් පිහිටුවීමේ පුරෝගාමියා ද මෙතුමා ය. දරුවන් තුළ ශ්‍රම අභිමානය ජනිත කරවීම සඳහා මෙතුමා පාසල් කාල සටහනට වැඩ හුරුවීම අනිවාර්ය කළේය.



කියවීමේ අගය දරුවන්ට කාවැද්දීම සඳහා දිවයින පුරා නව පාසල් පුස්තකාල සියයක් ඇතිකොට ජාතික පුස්තකාල මණ්ඩලය ද ස්ථාපිත කළේය. දරුවන්ට සහනමිලට පොත් ලබාදීම සඳහා අධ්‍යාපන ග්‍රන්ථ ප්‍රකාශන දෙපාර්තමේන්තුව ඇතිකළේ ද මෙතුමාය. උසස් මට්ටමේ නිර්දිෂ්ට ග්‍රන්ථ හා ගුරු අත්පොත් ද මෙමගින් මුද්‍රණය කෙරුණි. ජනප්‍රිය පාසල් සඳහා තිබූ දැඩි ඉල්ලීම නිසා කොළඹ රාජකීය විද්‍යාලය හා තරඟ කිරීම සඳහා ඩී. එස්. සේනානායක විදුහල පිහිටුවීම මෙතුමාගෙන් වූ තවත් සේවයකි. ඉංග්‍රීසි භාෂාව ඉගැන්වීම අනිවාර්ය කළ ඊරියගොල්ල මැතිඳුන්, උසස් දැනුමක් ඇති පුහුණු ඉංග්‍රීසි ගුරුවරුන් බිහිකිරීම සඳහා පේරාදෙණියේ පැවති ඉංග්‍රීසි ගුරු අභ්‍යාස විද්‍යාලය තත්ත්වයෙන් මහරගම ගුරු අභ්‍යාස විද්‍යාලයේ මට්ටමට උසස් කොට ලංකාවේ ප්‍රථම භාෂා පර්යේෂණාගාරය මෙහි පිහිටුවීය. මෙතෙක් රාජ්‍ය සේවකයින් ලෙස නොසැලකුණු ගුරුවරුන් රාජ්‍ය සේවකයින් ලෙස අන්තර්ග්‍රහණය කිරීම පනතක් මගින් සිදු කළේ ද මෙතුමා ය.

සංස්කෘතික අමාත්‍යවරයා වශයෙන් පුරාවිද්‍යා දෙපාර්තමේන්තුව ප්‍රතිසංවිධානය කළ එතුමා පුරාවස්තු කොල්ලය වැළැක්වීම සඳහා පියවර රාශියක් ගත්තේය. සීගිරි බිතුසිතුවම් සාහසිකයින් විසින් විනාශ කෙරුණු අවස්ථාවේ දී ලෝකයේ සිටි උසස්ම විශේෂඥයා ලංකාවට ගෙන්වා එම ලෝක උරුම සංස්කෘතික වස්තූන් යථා තත්ත්වයට පත්කිරීමට කඩිනම් පියවරගත් මෙතුමා පෞද්ගලිකව එම කටයුත්ත නිරීක්ෂණය කළේය. උතුම් බෞද්ධ භික්ෂූන්ගේ ඇසුර කුඩා කළ සිටම ලබා ගත් මෙතුමා අනුරාධපුරයේ බුද්ධශ්‍රාවක ධර්ම පීඨය ස්ථාපිත කළේය. හැමවිටම කලාකරුවන්ට අතහිත දුන් මෙතුමා ලේඛකයින් දිරිගැන්වීම සඳහා "සිංහල ලේඛක" සංගමය පිහිටුවා සංස්කෘතික දෙපාර්තමේන්තුව මගින් නානාවිධ සහායන් ඔවුනට ලබාදුන් අතර කොළඹ නව රඟහල පිහිටුවීම මින් එකක් පමණි. සම්මත සිංහල වියරණ රීති මාලාවක අවශ්‍යතාව වටහාගත් එතුමා සෑම ගුරුකුලයකටම අයත් භාෂා හා වාග් විද්‍යාත්මක විශේෂඥයින්ගෙන් සැදුම්ලත් කමිටුවක් පත් කොට සම්මත සිංහලය ප්‍රසිද්ධ කළේය. 1969 දී පවත්වන ලද අධ්‍යාපන දෙපාර්තමේන්තු ශත සංවත්සරය වෙනුවෙන් මෙතුමාගේ මෙහෙයවීමෙන් සම්පාදනය කොට "ලංකාවේ අධ්‍යාපනය" නම් වූ කෘතිය කාණ්ඩ තුනකින් සමන්විතව භාෂා තුනෙන්ම පළකරන ලදී.

තම මාතෘභූමිය හා ජනතාවට අනුපමේය සේවයක් කළ මෙම වීරෝදාර මානව හිතවාදී අභිමානවත් සත්කෝරළ පුත්‍රයා, පොදුවේ රට ජාතියටත්, විශේෂයෙන් කුලියාපිටිය කොට්ඨාසය ඇතුළු සත් කෝරළයටත් තව තවත් අසම සම සේවයක් කිරීමට අදිටන් කර සිටිය

දී 1973 ජනවාරි මස 07 වැනි දින හදිසියේ ම අභාවප්‍රාප්තවීම ජාතියේ අවාසනාවකි. ජාතියේ පිතින් උපන් එබඳු නායකයකු සැමරීම මුලුමහත් ජාතියේ ම යුතුකමකි.

## මුද්දරය පිළිබඳ විස්තරය

| | | |
|---|---|---|
| නිකුත් කරන දිනය | : | 2007 මාර්තු මස 20 වැනි දින |
| වටිනාකම | : | රු. 5.00 |
| සැලසුම්කරු | : | වසන්ත ශ්‍රීනාත් කුරුකුලසූරිය |
| ප්‍රමාණය | : | මි.මී. 30 x මි.මී. 41 |
| හැඩය | : | සිරස් |
| මුද්‍රණ ක්‍රමය | : | ඕෆ්සෙට් ලිතෝග්‍රැෆි |
| පත් සැකැස්ම | : | පත්‍රිකාවක මුද්දර 100 බැගින් |
| සිදුරු ප්‍රමාණය | : | 13 1/2 x 14 |
| මුද්‍රණකරුවෝ | : | රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව |
| වර්ණ | : | හතරයි |
| කඩදාසි වර්ගය | : | 102 ජී. එස්.එම්. ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| මැලියම් | : | පීවීඒ |
| මුද්‍රණය කළ ප්‍රමාණය | : | 5,00,000 |

*පසුගිය නිකුත් කිරීම:*

ICC ක්‍රිකට් ලෝක කුසලාන 2007 - 2007.02.23



அஞ்சல் திணைக்களம்,
அஞ்சல் தலைமையகம்,
டீ. ஆர். விஜேவர்தன மாவத்தை,
கொழும்பு 01000.

அஞ்சல் திணைக்களத்தின் முத்திரைப்பணியகமானது, முதன்மை குணமும் மனித நேயமும் கொண்ட அரசியல்வாதியாகவும் அனுபவமிக்க எழுத்தாளராகவும் குறிக்கோள் மிக்க பேச்சாளராகவும், சிறந்த எண்ணக் கோட்பாடுடையவராகவும் திகழ்ந்த ஐ. எம். ஆர். ஏ. ஈரியகொல்ல அவர்கள் மறைந்து முப்பத்து நான்கு ஆண்டுகள் நிறைவு பெறுவதை முன்னிட்டும் அன்னாரது நூறாவது பிறந்த தினத்தைக் குறித்தும் ரூபா 5.00 இனப்பெறுமதியிலான புதிய அஞ்சல் முத்திரையொன்றை 2007 மாச்சு 20 ஆந் திகதி வெளியிடுகிறது.

இனப்பற்றும் தேசப்பற்றும் மிக்க அரசியல்வாதியும் மொழி விற்பன்னரும் கவிதாசிரியரும் அத்துடன் நினைத்ததை அச்சமின்றி கூறியும், கூறியபடியே செயல்பட்டவருமான திரு. ஈரியகொல்ல அவர்களின் குணச்சிறப்புக்கள் சத்கோறளை மக்களால் 'மினி பஹன' போன்ற புகழாரங்களில் குறிப்பிடப் பட்டுள்ளன.

குருநாகல் மாவட்டம், கட்டுகம்பளை, ஹத்பத்துவவின் மெதபத்து மேற்கு கோறளையில், ஈரியகொல்ல கிராமத்தில் நீண்ட பரம்பரையில் வந்த செல்வந்த குடும்பத்தில் பிறந்த இம்யா முதியன்சேலாகே ரபியல் அபயவங்ச ஈரியகொல்ல அவர்கள் இன்று உள்ளதான ஈரியகொல்ல மகா வித்தியாலயம் (அன்றைய காலத்தில் 'கங்காணியாமுல்ல வித்தியாலயம்' எனப்பட்டது) எனும் பிரசித்திபெற்ற பாடசாலையில் தனது ஆரம்ப கல்வியை கற்றபின் தனது இரண்டாம் நிலைக் கல்வியை கொழும்பு ஆனந்தா கல்லூரியிலும், நாலந்தா கல்லூரியிலும் பயின்றார். கீழைத்தேய மொழிகளைக் கற்கும் பொருட்டு கொழும்பு மாளிகாகந்தை வித்யோதயா பிரிவெனாவை தெரிவு செய்தார். இதற்கு முன், மருத்துவக் கல்லூரியில் மாணவராக இருந்து விஞ்ஞானக் கல்வி பயின்றார். அபிப்பிராய பேதம் காரணமாக மருத்துவக் கல்லூரியினின்றும் விலகினார். இளைஞரான ஈரியகொல்ல பொலிஸ் சேவையிலும் சேர்ந்து சிலகாலம் பணியாற்றினார். இதன் பின்னர் செய்திப் பத்திரிகைத் துறையில்

ஆர்வம் கொண்டு 'லக்வெசியா', 'சிலுமின', 'சிங்கள பௌத்தயா' போன்ற பத்திரிகைகளில் அவற்றின் ஆசிரியப் பீடங்களில் கடமையாற்றினார். இவர் ஆசிரியப் பீடத்தில் கடமையாற்றிய காலங்களில் அப்பத்திரிகைகள் மக்கள் மத்தியில் பிரபல்யம் பெற்று விளங்கின. 1934 ஆம் ஆண்டு, ஆங்கில மொழி மூலம் நடாத்தப்பட்ட போட்டிப் பரீட்சையில் முதலாம் இடத்துக்கு தெரிவான இவர், அரச கரும மொழிகள் திணைக்களத்திலே நல்ல தொழிலொன்றில் நியமிக்கப்பட்டார். பின்னர் அவர் 'பிரதம மொழிபெயர்ப்பாளர்' பதவியிலும் அமர்ந்தார். இரண்டாம் உலக யுத்தம் நடைபெற்ற காலப்பகுதியில் 'யுத்த செய்திகளுக்கான அதிகாரி'யாக கடமை யாற்றினார். 'சோல்பரி ஆணைக்குழு அறிக்கை'யை சிங்களத்தில் மொழிபெயர்ப்பு செய்யும் அதிமுக்கிய பணியை நிறைவேற்றினார். கீழைத்தேய மொழிகளில் போன்றே ஆங்கில மொழியிலும் இவருக்கிருந்த பரந்த அறிவானது இவரின் பாண்டித்தியத்தை உயர்த்துதற்கு பிரதான காரணிகளாகவிருந்தன.

இவரால் எழுதப்பட்ட "அனங்கயாகே துன்ன", "வஹல்லாகே சிஹினய" (மீள் பிரசுரிக்கப்பட்டது) ஆகிய சிறுகதைகள், "போத்த சுதர்ஷனய" தனது மனைவியுடன் இணைந்து எழுதிய "பூர்ணவிப்ளவய" போன்ற கவிதைப் படைப்புக்கள், "தேவதாபய" மற்றும் "மனுதாபய" போன்ற மீள் பிரசுரங்கள் சிங்கள இலக்கியத்துறையை நன்கு வளப்படுத்தி உயர்த்தின. பாடசாலை சிறுவர்கள் பொருட்டு இவரால் எழுதப்பட்ட உலகின் மிகச் சிறந்த நாடு இலங்கை அத்துடன் எல்லோர் மனதையும் வென்ற "சுஜாதா தரணி" எனும் கவிதைகள் தொகுதி பொருள் நயமும் ஒலி நயமும் மிகப் பொருந்தியனவாக அனைத்து ரசிகர்களாலும் ஏற்றுக்கொள்ளப்பட்டிருந்தன.

நாட்டுக்கும் இனத்துக்கும் சேவையாற்றுவதாயின் அரசியல் பலம் அவசியம் என்பதை உணர்ந்திருந்த ஈரியகொல்ல அவர்கள், இளமைக்காலம் தொட்டே தான் ஈடுபட்டிருந்த பத்திரிகைத் துறை மற்றும் சமூக சேவை ஆகியவற்றை தொடர்ந்து ஆற்றி வந்ததுடன் அரசியல் களத்தில் இறங்கவும் துணிந்தார். 1947 ஆம் ஆண்டு நடைபெற்ற பாராளுமன்றப் பொதுத் தேர்தலில் சுயேச்சை வேட்பாளராக போட்டியிட்ட இவர், 1956 இல் வெற்றியீட்டி தன்டகமு தெற்கு ஆசனத்தை வென்றார். 1956 ஆம் ஆண்டில் வெற்றிவாகை சூடிய "மகஜன எக்சத் பெரமுன"



கட்சியில் அமைப்பாளராகவும் திகழ்ந்தார். அக்கட்சி உருவாவதற்குகைச் சாத்திட்ட நான்கு முக்கியஸ்தர்களுள் இவரும் ஒருவராவார். 1960 ஆம் ஆண்டு கௌரவ டட்லி சேனாநாயக்கா அவர்களின் அழைப்பை ஏற்று, புதிய "ஐக்கிய தேசியக் கட்சி"யை அமைக்கும் பொருட்டு ஒரு தேசிய அமைப்பாளராக இவர் ஆற்றிய பணியானது 1965 இல் ஐ.தே. கட்சி அரசாங்கம் மலர்வதற்கு பெரிதும் உதவியது எனலாம்.

1965 தொடக்கம் 1970 ஆம் ஆண்டுவரை ஈரியகொல்ல அவர்கள் 'கல்வி மற்றும் கலாசார அமைச்சர்' என்ற வகையில் சேவையாற்றிய காலப்பகுதியில் கல்வித் துறை தொடர்பில் தொலைநோக்குடன் முன்னேற்றகரமான பணிகள் பலவற்றை ஆற்றியதுடன் அன்றுவரை இருந்த கல்வி அமைச்சர்களுள் 'அதிசெயல் சாதனை படைத்த அமைச்சர் இவரே' என சிரேட்ட சிவில் உத்தியோகத்தர் ஒருவரான திரு. எம். ஜே. பெரேரா என்பார் ஒரு சமயம் இவர் பற்றி குறிப்பிட்டிருந்தார். கல்வித் திணைக்களத்தின் நிர்வாகத்தை முதல் தடவையாக சீர்படுத்திய இவர், ஏகாதிபத்திய ஆட்சியாளர்களால் அறிமுகப்படுத்தப்பட்ட காலங்கடந்த கல்விமுறைமையை காலத்துக்கு ஏற்ற வகையில் ஒழுங்குபடுத்தினார். அதுவரை, இருந்துவந்த - ஒரேயொரு பல்கலைக்கழகமாயிருந்த "இலங்கைப் பல்கலைக்கழகம்" என்பதனை "பேராதனை" மற்றும் "கொழும்பு" என்றவாறு இரண்டாக அமைய வேண்டும் என ஆலோசனை தெரிவித்தார். பல்கலைக்கழகத்தில் சேர்வதற்கு தகைமைகள் இருந்தும் அதற்கான வாய்ப்பும் வசதிகளும் அற்ற மாணவர்கள் மேலும் தமது கல்வியை தொடர்வதன் பொருட்டு 1966 ஆம் ஆண்டில் கனிட்ட பல்கலைக்கழகங்களை உருவாக்கிய இவர், புதிய பாடத்திட்டங்கள் அடங்கிய பரந்த கல்விநெறிகள் பலவற்றை அறிமுகப்படுத்தினார். நாடு முழுவதும் உள்ளடங்குமாறு தெஹிவளை, கேகாலை, குளியாபிட்டி, பொல்கொல்ல, காலி, பலாலி ஆகிய இடங்களில் நிறுவப்பட்ட கனிட்ட பல்கலைக் கழகங்களில் "டிப்ளோமா சான்றிதழ்கள்" பெறும் பொருட்டு பல்வேறு தொழில் பயிற்சிநெறிகளை மாணவர்கள் பயில்வதற்கான சந்தர்ப்பங்களை ஏற்படுத்திக் கொடுத்தார். அதுவரை கவனிக்கப்படாத நிலையில் இருந்து வந்த தொழில்நுட்ப/ தொழில்நுட்பவியல் அடிப்படையிலான தொழில்சார் கல்விமுறையை உயர்ந்த விதத்தில் சீரமைக்கும் பொருட்டு அம்பாறை ஹாடி தொழில்நுட்பக்கல்லூரி மற்றும் இரத்மலானை

அடிப்படைத் தொழில்நுட்பக் கல்லூரி ஆகியவற்றை கல்வி அமைச்சிடம் ஒப்படைத்ததன் மூலம் அவற்றை உயர்வாக்கினார். கட்டுபெத்தை தொழில்நுட்பக் கல்லூரி இடப்பரப்பினுள் "இலங்கை உயர்தொழில்நுட்பக் கல்வி நிறுவனம்" என்பதனை நிறுவிய பெருமை இவரையே சாரும்.

"அழகியல் கல்வி"யை பாடசாலைகளில் ஒரு கட்டாயப் பாடமாக்கிய இவர் அழகியல் கல்வி நிறுவனத்தை நன்கு தரமுயர்த்தி அபிவிருத்தி செய்தார். பாடசாலைகளில் கீழைத்தேய, மேலைத்தேய வாத்திய இசை அணிகளை அமைத்ததில் முன்னோடியாக திகழ்ந்தவர். இசையின் ஊடாக நாட்டுப்பற்றையும் சமத்துவத்தையும விருத்தி செய்ய முடியும் என நம்பிக்கை கொண்ட இவர் தாம் இயற்றிப் பிரசுரித்த இரண்டு பாடல்களை மாணவர்கள் பொருட்டு அன்பளிப்பு செய்தார். சிறுவர்கள் / இளைஞர்கள் மத்தியில் செயலார்வத்தை தோற்றுவிக்கும் நோக்கில் பாடசாலை "நேர அட்டவணை"யில் "வேலை ஈடுபாடு" எனும் விடயத்தை கட்டாயமாக்கினார். சிறுவர்கள் மத்தியில் வாசிப்புப் பழக்கத்தை உண்டு பண்ணும் நோக்கில் நாடு பூராவும் புதிதாக பாடசாலை நூலகங்கள் பலவற்றை அமைத்ததோடு, "தேசிய நூலக சபை"யையும் நிறுவினார். பாடசாலை சிறுவர்கள் சகாய விலையில் நூல்கள் பெற்றுக் கொள்வதன் பொருட்டு "கல்விநூல் வெளியீட்டுத் திணைக்களத்தை" நிறுவியவரும் இவரே. இதன் மூலம் உயர் தரத்திலான அங்கீகரிக்கப்பட்ட நூல்களும் ஆசிரியர் கைந்நூல்களும் அச்சிடப்படுகின்றன.

மக்கள் மத்தியில் பிரசித்தி பெற்ற பாடசாலைகளுக்கு மட்டும் அபிமானம் இருந்து வந்த காலத்தில், கொழும்பு றோயல் கல்லூரி போன்றவையுடன் போட்டியிடக்கூடிய தரத்தில் அமைய வேண்டும் எனும் நோக்கில் 'டீ.எஸ்.சேனநாயக்கா கல்லூரி'யை நிறுவியது இவரது மற்றொரு சாதனையாகும். ஆங்கில மொழியை கற்றல்/கற்பித்தல் என்பதனை கட்டாயமாக்கிய ஈரியகொல்ல அவர்கள் இதில் உயர் தரத்திலான அறிவைக் கொண்ட ஆசிரியர்களை உருவாக்கும் நோக்கில் பேராதனையில் இயங்கிவந்த ஆங்கில ஆசிரியர் பயிற்சிக் கலாசாலை தரத்துக்கு இணையாக மகரகம ஆசிரியர் பயிற்சிக் கல்லூரியின் தரத்தை உயர்த்தி, இங்கு இலங்கையின் முதலாவது மொழி ஆய்வு நிலையத்தையும் நிறுவினார்.

அதுவரை அரசாங்க ஊழியர்களாக கணிக்கப்படாதிருந்த



ஆசிரியர்கள் அரசாங்க ஊழியர்களாக உட்சேர்த்துக் கொள்ளப்படுவதற்காக சட்டத்தின் மூலம் ஏற்பாடு செய்த பெருமை இவரையே சாரும். ஆசிரியர்களின் கௌரவத்தைப் பாதுகாப்பதற்கும் அவர்களது சேவையை மதிப்பதற்கும் அவர் எடுத்த முயற்சிகளுக்கு இவை சிறந்த சாட்சியங்களாக அமைகிறது. அதுகாறும் ஆசிரியர்கள் பெற்றிராத அரசாங்க சேவை வரப்பிரசாதங்கள் அனைத்தும் ஆசிரியர்களுக்கு கிடைக்கப்பெற்றன. மேற்கூறியவை அனைத்தும், சட்டத்தின் மூலம் ஆசிரியர்கள் அரசாங்க ஊழியர்கள் என உத்தியோகபூர்வ மாக அங்கீகரிக்கப்பட்ட பின்னரே சாத்தியமானது.

கலாசார அமைச்சர் என்ற ரீதியில் அன்னார் ஆற்றிய சேவையானது நிகரற்றதொன்றாகும். தொல்பொருள் ஆய்வு திணைக்களத்தை புனரமைப்பு செய்த இவர், புராதனப் பொருட்கள் கொள்ளை போவதை தடுக்கும் பொருட்டு நடவடிக்கை பலவற்றை இவர் மேற்கொண்டிருந்தார். சீகிரியா சுவரோவியங்கள் நாசகாரர்களால் சேதமாக்கப்பட்டபோது, உலகின் முன்னணி மீளாக்க நிபுணர்களை இலங்கைக்கு வரவழைத்து, உலக மரபுரிமை சிறப்பு வாய்ந்த இந்த கலாசார செல்வங்களை மீண்டும் நல்ல நிலையில் சீரமைப்பதற்காக அயராத முயற்சிகளை மேற்கொண்ட இவர், இது தொடர்பான மீளாக்க வேலைகளை தனிப்பட்ட ரீதியில் தானே நேரில் மேற்பார்வையிட்டு வந்தார். சீலம் வாய்ந்த பௌத்த பிக்குகளின் நல்லுபதேசங்களையும் ஆசிகளையும் பெற்றிருந்த இவர், எதிர்கால உலகின் விடிவு பௌத்த நெறியிலேயே தங்கியுள்ளது என திடமாக நம்பியிருந்த இவர், இந்நெறி உலகம் பூராவும் பரவுதல் வேண்டும் எனும் நோக்கில் அநுராதபுரத்தில் "புத்தசிறாவக தர்ம பீடத்தை" நிறுவினார். எல்லா சந்தர்ப்பங்களிலும் கலைஞர்களுக்கு உதவிகள் ஒத்தாசைகள் வழங்கிய இவர் எழுத்தாளர்களின் உயர்ச்சியின் பொருட்டு "சிங்கள எழுத்தாளர் சங்கம்" என்பதை நிறுவி, கலாசார திணைக்களத்தின் ஊடாக சகல நன்மைகளையும் அவர்களுக்குப் பெற்றுக் கொடுத்ததுடன், நாடகக் கலை மற்றும் நாட்டியக்கலை போன்றவற்றின் மேம் பாட்டுக்காக, முன்வைக்கப்பட்ட கரு... ...கள் பலவற்றை செயல்படுத்தினார். கொழும்பு "நவரங்கஹல" இதில் ஒன்றாகும். சீரற்ற விதத்தில் பிரயோகத்திலிருந்த சிங்கள மொழியை நவீன முறையில் விருத்தி செய்து வளமாக்கும் நோக்கில், பத்திரிகைகள்/ஆவணங்களில்

பாவனையின் பொருட்டு அங்கீகரிக்கப்பட்ட சிங்கள இலக்கண விதிமுறைகோவையின் அவசியத்தை உணர்ந்த இவர், அனைத்து கல்வித்துறையினர்க்கும் ஏற்றதாக மொழி மற்றும் சொல்லலங்கார நிபுணர்கள் அடங்கிய குழு வொன்றை நியமித்து அங்கீகரிக்கப்பட்ட தரத்திலான சிங்கள மொழியை பிரசித்தப்படுத்தினார். 1969 இல் இடம்பெற்றதான கல்வித் திணைக்களத்தின் 100 ஆவது ஆண்டு நிறைவை முன்னிட்டு, இவரது முயற்சியால் செயல்படுத்தப்பட்டும் "இலங்கையிலே கல்வி" எனும் பெயரில் 3 தொகுதிகளாக பூரணப்படுத்தப் பட்டதும் மூன்று மொழிகளிலும் பிரசுரிக்கப்பட்டதுமான நூலானது இந்நாட்டின் கல்வி முறைமை தொடர்பில் ஆய்வுகள் மேற்கொள்வதற்கு உதவுவதற்கான தகவல்கள் அடங்கிய களஞ்சியமாக உள்ளது.

தன்டகமுவ எனும் விசாலமான வெளியிடப் பிரதேசத்தில் வீதி வசதிகள் மற்றும் சகல உட்கட்டமைப்பு வசதிகள் அடங்கலா கவும் அத்துடன் பாடசாலைகள், மருத்துவமனைகள், நூலகங்கள் அமையப்பெற்றும், நவீன உலகின் நகரமொன்றுக்கு அவசிய மான சகல சிறப்பம்சங்களும் கொண்டதாக குளியாபிட்டியவில் பல ஆக்கப்பணிகள் இச்சாதனை நாயகரால் நிறைவேற்றப் பட்டுள்ளன.

அதிசிரேட்ட தலைவருக்கு இருக்கவேண்டிய சகல குணச்சிறப் புக்களும் கொண்ட இன்னாருக்கு, தனது ஆளுமையை உயர்த்திக் கொள்வதற்கு ஆதாரமாக இருந்தவர்களுள் - அநாகாரிக தர்மபால, தொன் பாரொன் ஜயதிலக்க, எப்.ஆர்.சேனாநாயக்க, ஈ. டபிள்யூ. அதிகாரம் மற்றும் மாபெரும் தத்துவஞானி ஜே. கிருஷ்ணமூர்த்தி ஆகியோரும் கஹவே ரத்னசார, ஹெண்டிகல சீலரத்ன, பலங்கொட ஆனந்த மைத்ரி, வல்பொல ராஹுல மற்றும் வெளிவிட்ட சோரத போன்ற துறவு நிலை சென்ற சீலர்களும் குறிப்பிடத்தக்கவர்களாவர்.

தனது தாய் நாட்டுக்கும் மக்களுக்கும் அளப்பரிய சேவைகளை ஆற்றிய இந்த துணிவுமிக்க, மனிதநேயம் கொண்ட, அபிமானம் வென்ற சத்கோறளை மகனார் பொதுவாக நாட்டுக்கும் இனத்துக்கும், விசேடமாக குளியாபிட்டி தொகுதி அடங்கலாக சத்கோறளை பிரதேசத்துக்கு மேலும் பல சேவைகளை ஆற்றுவதற்கு துடிப்புடன் இருந்தவேளையில் 1973



சனவரி 07 ஆந் திகதி சடுதியாக இறந்தது எமது மக்களின் துரதிஷ்டமாகும். தேசத்தின் நன்மைக்கென பிறந்த இப்படியான ஒரு தலைவரை பொறுப்புடன் நினைவுகூர வேண்டியது மக்கள் அனைவரினதும் பாரிய கடமையாகும்.

## தொழில்நுட்ப விபரங்கள்

| | | |
|---|---|---|
| வெளியிடும் திகதி | : | 2007, மார்ச் 20 |
| இனப்பெறுமதி | : | ரூபா 5.00 |
| வடிவமைப்பாளர் | : | வசந்த ஸ்ரீநாத் குருகுலசூரிய |
| வடிவம் | : | செங்குத்தானது |
| முத்திரை அளவு | : | 30 மி.மீ. x 41 மி.மீ. |
| அச்சீட்டு செயல்முறை | : | எதிர்ப்படி கல்லச்சுமுறை |
| தாளமைப்பு | : | தாளொன்றுக்கு 100 முத்திரைகள் |
| துளையீடு | : | 13 1/2 x 14 |
| அச்சாளர்கள் | : | அரசாங்க அச்சுத் திணைக்களம், இலங்கை. |
| பாவிக்கப்பட்ட நிறங்கள் | : | 4 நிறங்கள் |
| தாள் | : | 102 ஜி. எஸ். எம். பாதுகாப்பான முத்திரைத்தாள் |
| பசை | : | பிவிஏ |
| அச்சடித்த தொகை | : | 5,00,000 |

**முன்னைய வெளியீடு :**

ICC கிரிக்கட் உலகக்கிண்ணம் 2007 – 2007.02.23

Department of Posts,
Postal Headquarters,
D. R. Wijewardane Mawatha,
Colombo 01000.

The Philatelic Bureau of the Dept. of Posts will issue a new Postage Stamp in the denomination of Rs. 5.00 on 20th March, 2007, to Commemorate the 34th death anniversary as well as 100th Birthday of Mr. I. M. R. A. Iriyagolle the Nobleminded and Humanitarian politician who was also a erudite writer/ Author, Orator and a Personality with vision.

There are numerous mentions that have been made by the people of Sathkorale, eulogically of I.M.R.A. Iriyagolle who had been a loyal and patriotic, linguistic scholar, lyricist and who practised as preached.

Imiya Mudiyanselage Raphiel Abayawansa Iriyagolle, Who was born in the village Iriyagolla, situated in Medapattu West Korale, Katugampola Hathpattu of Kurunegala District, had his primary education at the famous Iriyagolle Maha Vidyalaya (formerly Known as Kankaniyamulla Vidyalaya). Later he continued his secondary education at Colombo Ananda College and Nalanda College. In the interest of studying Oriental Language he joined Maligakanda Vidyodaya Pirivena in Colombo. Earlier for sometime he was a student at the Medical College, too. He later Left that College on ground of opinion - related conflict. For certain period he had been serving in the Police service, too in his younger days. Due to the interest towards the Journalism, he joined the relevant institutions and served in the Editorial boards of 'Lakvesiya', 'Silumina' and 'Sinhala Bauddhaya' Newspapers. Those Newspapers were much popular among the people while he was serving in such editorial boards. In the year 1934, when a competitive Examination in English was conducted, he won the first place and subsequently he was appointed in a good position at the Official Languages Department ; Later he assumed the office of Chief Translater. During period of World War II he had served as 'War News Authority'. Further, he had accomplished



the important duty of translating the 'Soulbury Commission Report" into Sinhala Language, the wide knowledge he possessed in English Language as well as his knowledge in Oriental Languages was much helpful to exalt him as supreme Intellectual.

The short stories written by him– “Katha Paha”, “Dewa Waraya” and lyrics Anangayage Dhunna', Wahalage Sihinaya' (Re-edition) ; ‘Sudarshanaya’ ; the set of Lyrics written in association with his wife under the title 'Poorna Viplavaya' ; the other Re-editions like 'Dhevathapaya' and ' Manuthapaya', all these contribute immenssely to enhance the Quality of Sinhala Literature. The Book written by him solely for the school children, titled" Lokaye Uthum Rata Lankavaya' and the set of lyrics which had attracted wide circle of people, titled " Sujatha Dharani" was acclaimed to express the sense value and Phonetic Value.

Mr. Iriyagolle was aware of the fact that Political Power is a must for a person who is committed to serve the country and Nation. With this in mind, he continued his participation in the field of Journalism and Social Service. He then dared to embark on Political arena, too. He then contested as an Independent Candidate in the Parliamentary Election of 1947, and got elected to seat of Dandagamu in 1956 and remained the Organiser of the Party "Mahajana Eksath Peramuna" which had a Sweeping Victory in 1956. He was one of those signatories who were responsible for the foundation of that Party. Later in 1960, on the invitation of Hon. Dudley Senanayake, he had to serve for the formation of Newly born ‘United National Party’. His contribution of service had quite enabled the United National Party Government to be established in 1965.

During the period 1965-1970 while he served as Minister of Education and Culture; he had accomplished serveral progressive tasks coupled with right foresight. In this regard

Mr. M. J. Perera, one of the prominent Civil Servant of that time highly commended of Mr. Iriyagolle thus ; "Mr. Iriyagolle is the foremost Minister with performance among all other Education Ministers until this time". He made reforms for the first time in the Administration of Education Department and modified the Education System introduced by the Colonial Rulers, to suit to the modern times. With regard to the University of Ceylon' which was the one and only University until that period he suggested that should be branched into two under the Names "Peradeniya' and 'Colombo' respectively. For the benefit of those students who were though qualified to enter the University stream but unable due to lack of necessary facilities and capacities. He established many Secondary Universities in 1966 and introduced several Educational Courses Consisting of new Syllabuses. In those Universities, established to encompass the whole Island – such as at Dehiwela, Kegalle, Kuliyapitiya, Polgolla, Galle and Palali – he provided opportunities for those students to follow different Vocational Courses in order to obtain Diploma Certificates. In the scope of upgrading the Trade related (Vocational) Education systems coming under Technical/Technological Education, he assigned the Administration of Hardy Technical College – Ampara and Basic Technical College – Ratmalana, to the Ministry of Education. The noteworthy Credit of establishing "Sri Lanka Higher Technical Education Institution" within the premises of Katubedda Technical College, should due to Mr. Iriyagolle.

He made the "Aesthetic Education" a compulsory one in schools and established the 'Aesthetic Education Institute' and developed it by upgrading its standards. He became the pioneer by establishing Eastern and Western Bands in schools. He firmly believed that Patriotism and Equality could be well – enhanced through 'Music' and thus presented his own two songs (written and published by himself) to the students. In order to instil the interest-in-works among children, he introduced into the school Time-Table 'Works Engagement' and made it compulsory. Further, in the scope of forming the



'Reading habit', he established several libraries islandwide and established the "National Library Council" too. It was he who established the "Educational Publications Department" for the benefit of school children to buy their Books on concessionary prices and whereby Recommanded Books and Teachers' hand books/Guide books of high Quality are being printed/published.

In those days, when there prevailed popularity among people only towards esteemed Educational Institutions, Mr. Iriyagolle Ventured to establish the D. S. Senanayaka College, equal to Colombo Royal College in all respects. It was too an achievement of Mr. Iriyagolle. He iterated the importance of Teaching/ Learning English Language and made it compulsory. In view of producing Teachers with sound English knowledge, he upgraded the Maharagama Teachers' Training College to the level upon standard of Peradeniya English Teachers' Training College and subsequently established the first Language Research Centre of Sri Lanka, here.

Teachers who were not considered then as Public/Govt. Servants were absorbed as Govt. Servants by an Act of Parliament brought by and backed by Mr. I.M.R.A. Iriyagolle and this credit should go to him. This event will verily vouch for his efforts on safeguarding the Prestige and honour the service of Teachers. Consequently, Teachers too became entitled to all Rights and Concessions of Govt. Service, which were not accessible there before. These all could be feasible only after they became recognised as Govt. Servants, by that Act of Parliament.

The service he rendered in the capacity of Cultural Minister, is truly unparalleled one. Mr. Iriyagolle, who restrictred the Department of Archaeology, took many measures to prevent the theft of valuable Antiquities. When those 'Sigiriya Frescoes' were damaged by unidentified presons, he endeavoured to bring in world famous restorative experts and took untiting efforts to position those frescoes in former glorious state ; further he

personally visited the spot and supervised the restorative works while on progress. Mr. Iriyagolle, who was gifted with admonitions and blessings of Buddhist Priests in his younger age and immersed in the belief that the survival of Future World is possible only through Buddha Dharma successfully established the 'Buddha Shrawaka Faculty' in Anuradhapura, with the scope of spreading Buddha Dharma worldwide. At all instances, he was helpful to Artists and for the betterment of writers/authors, he established the 'Sinhala Writers Association', and made available to them several benefits through the Cultural Department. Further he implemented many suggetions that were proposed for the betterment of Arts of Dances and Dramas, 'Colombo Navarangahale' is a very example of this, that stands today.

In the scope of improving the ill-usage of Sinhala Language in his time, and in view of upgrading it in conformance to modern trend, he felt the need of an Approved Sinhala Grammar code and subsequently he formed a Panel of Linguistic experts in respective field/ disciplines of Education. Thus he published the approved/improved Sinhala. In the year 1969, to mark the 100th Anniversary of Dept. of Education a much informative Book under the Title "Education in Sri Lnaka" was released in 3 volumes, (in three Languages). Yet this remains a wide source, much helpful in conducting Research pertaining to Education System of this country.

Vast public facilities and Amenities in an outer region called Dandagamuwa – such as good Roads and Infrastructure development. Along with establishment of Schools, Hospitals and Libraries ; Several Constructive Structures and amenities needed to a Town of modern world have been completed provided in kuliyapitiya by this man of achievements, Mr. Iriyagolle.

He Progressed the human Values and charisma of a Supreme Leader and saveral eminent personalities were his exemplary guides for him to enhance his personality self and image – they are Anagarika Dharmapala, Don Baron Jayatillake, F. R. Senanayake, E. W. Adhikaram and the world famous Philosopher J. Krishnamurti ; also, those priestly eminence like Ven. Kahawe Ratanasara, Ven. Hedigalla Seelaratna, Ven. Balangoda Ananda Maitri, Ven. Walpola Rahula and Ven. Welivita Soratha are noteworthy among them.



This son of Sathkorale, while he was further intending to contribute his energy and service to the country and Nation especially to people of Sathkorale, unexpectedly breathed his last on 07th January, 1973. It should be the bounden duty of entire people to commemorate a Supreme Leader, Mr. Iriyagolla who was born for the betterment of this country.

## Details of the Issue

| | | |
|---|---|---|
| *Date of Issue* | : | 20th March, 2007 |
| *Denomination* | : | Rs. 5.00 |
| *Designer* | : | Wasantha Srinath Kurukulasooriya |
| *Stamp Size* | : | 30 mm. x 41 mm. |
| *Format* | : | Vertical |
| *Printing Process* | : | Offset Lithography |
| *Sheet Composition* | : | 100 stamps per sheet |
| *Perforations* | : | 13 1/2 x 14 |
| *Printers* | : | Department of Government Printing, Sri Lanka |
| *Colours* | : | 4 Process Colours |
| *Paper* | : | 102 gsm. Security Stamp Paper |
| *Gum* | : | PVA |
| *Quantity Printed* | : | 500,000 |

***Previous Issue:***

ICC Cricket World Cup 2007 - 23.02.2007